ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**45 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Ord. Level) Examination, 2020

භරත නැටුම් I, II
பரதநாட்டியம் I, II
Bharatha Dancing I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## භරත නැටුම් I

**සැලකිය යුතුයි:**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ධ්‍යාන ස්ලෝගයට අයත් දෙවියන්
(1) ගණපති ය. (2) ශිවන් ය. (3) පාර්වතී ය. (4) මුරුගන් ය.

**2.** නමස්කාරය කරන විට අජ්ඣදික් බාලක විදහා දැක්වෙන හස්ත
(1) කටකාමුඛම් ය. (2) චතුරම් ය. (3) ශිකරම් ය. (4) අංජලී ය.

**3.** සම්යුත හස්තහි සඳහන් 18 වෙනි හස්ත
(1) මත්ස්‍යම් වේ. (2) වරාහම් වේ. (3) නාගබන්දම් වේ. (4) කූර්මම් වේ.

**4.** ආදිතාලයේහි ඇති අඩව්ව
(1) දිත් තෙයින්ද තා තෙයි වේ. (2) තෙයි තෙයි තිති තෙයි තා වේ.
(3) 2 වෙනි මණ්ඩි අඩ වේ. (4) 1 වෙනි තත්තෙයි තාහා වේ.

**5.** සංකීර්ණ නඩයෙහි ඇතුළත් චතුස්‍ර නඩේට අදාළ සොට්කට්ටිනෙයි ඉවත් කළ විට ඉතිරි වන්නේ,
(1) තිස්‍රනඩෙයි ය. (2) චතුස්ස්‍රනඩෙයි ය. (3) කණ්ඩනඩෙයි ය. (4) මිශ්‍රනඩෙයි ය.

**6.** පැනීමේ (පායිදල්) පාද ඉරියව්ව කුමක් ද?
(1) මණ්ඩල (2) පාදචාරිකා (3) භ්‍රමරි (4) උත්ප්ලවන

**7.** අක්ෂර එකතුව 16 ලබා දෙන තාලය
(1) චතුස්‍ර ජාදි ජම්ප තාලයයි. (2) මිශ්‍ර ජාදි මට්ය තාලයයි.
(3) කණ්ඩ ජාදි ත්‍රිපුඩ තාලයයි. (4) සංකීර්ණ ජාදි රූපක තාලයයි.

**8.** පාර මාරුවීම සඳහා භාවිත වන ශිරෝ සහ දිෂ්ඨී භේදය පිළිවෙළින්,
(1) ධුතම් සහ ප්‍රලෝකිත ය. (2) උත්වාකිත සහ උල්ලෝකිත ය.
(3) කම්පිත සහ සාචි ය. (4) අදෝමුක සහ අවලෝහිත ය.

**9.** වෙන්වීම (පිරිවු) සඳහා භාවිත කරන අසම්යුත හස්තය
(1) කටකාමුඛ වේ. (2) කර්තරීමුඛ වේ. (3) ශුකතුණ්ඩ වේ. (4) අරාල වේ.

**10.** පහත සඳහන් සප්ත තාලාහි ඇති අංගය
(1) ප්ලුතම් ය. (2) දෘතම් ය. (3) ලඝු ය. (4) අනුදෘතම් ය.

[දෙවැනි පිටුව බලන්න.

11. කඳු ප්‍රදේශවල ජීවත් වන අය එම ප්‍රදේශවල චාරිත්‍ර වර්ණනා කර ගායනා කරමින් නටන ග්‍රාමීය නර්තනය,
(1) වැදි නර්තනයයි. (2) ගොයම් නර්තනයයි. (3) කඩු නර්තනයයි. (4) සිංගා සිංගි නර්තනයයි.

12. භරත නර්තන ප්‍රසංග අවස්ථාවේ දී සංගීත භාණ්ඩ වාදකයකරුවන් වේදිකාවේ වාඩි වී සිටිය යුත්තේ,
(1) නර්තනකාරියගේ වම් පැත්තේ ය. (2) වේදිකාවේ ඉදිරිපස ය.
(3) නර්තනකාරියගේ දකුණු පැත්තේ ය. (4) වේදිකාවේ පිටුපස ය.

13. අවුණරයන් සිහිසුන් කිරීම සඳහා තිරුමගල් ඉදිරිපත් කරන නර්තනය කුමක් ද?
(1) පාවෙයි කුතු (2) පේඩි කුතු (3) කුඩ කුතු (4) මට්කුතු

14. 'ජවහ් ස්රත්වම් රේඛාෂප් ....' පටන්ගැනෙන ශ්ලෝකය
(1) කිංකිණි ලක්ෂණය වේ. (2) පාත්‍ර ප්‍රාණන් වේ.
(3) සභා ලක්ෂණය වේ. (4) සභානායක ලක්ෂණය වේ.

15. ජාතිහස්තාවලියක් වන බ්‍රාහ්මණ හස්තාවට ගැනෙන නවග්‍රහ හස්ත වන්නේ,
(1) අඟහරු ය. (2) සෙනසුරු ය. (3) සිකුරු ය. (4) බ්‍රහස්පති ය.

16. භෝජනය යන්නෙහි අර්ථය කුමක් ද?
(1) කෙසෙල් මල (2) ආහාර අනුභවය (3) මල් මාලය (4) කණ්නාඩිය

17. ගුහා කෝවිල් බිහි වූ කාලය
(1) සංග කාලයයි. (2) සංගම්මරුවිය කාලයයි.
(3) පල්ලව කාලයයි. (4) චෝල කාලයයි.

18. ශිව දෙවියන් කාලි දේවතාවිය සමග ඉදිරිපත් කළ තාණ්ඩව නර්තනයෙන් අදහස් වනුයේ,
(1) ආශිර්වාදයයි. (2) විනාශයයි. (3) සැඟවීමයි. (4) ආරක්ෂාවයි.

19. කරුණා රසයේ ස්ථායිභාවය කුමක් ද?
(1) භයානක (2) කෝපය (3) පුදුම වීම (4) ශෝකය

20. මහපට ඇඟිල්ල සහ සුලැඟිල්ල විවෘත කර අනිත් ඇඟිලි එකට ඇල්ලීමෙන් ලැබෙන අසම්යුත හස්ත
(1) කම්සපක්ෂම් වේ. (2) අර්ධපතාක වේ. (3) මිරුගශීර්ෂ වේ. (4) ත්‍රිශූල වේ.

21. 'තෙයි තෙයි තිති තෙයි; තා' මෙහි මුළු අක්ෂර එකතුව කීය ද?
(1) 11 (2) 9 (3) 8 (4) 7

22. ඇඟිලිවලට දිදාල භාවිත කරමින් වාදනය කරන වාද්‍ය භාණ්ඩය
(1) මිරුදන්ගම් ය. (2) රබාන ය. (3) තවිල් ය. (4) ඩෝලක් ය.

23. අභ්‍යන්තර හැඟීම් භාව තුළින් ඉදිරිපත් කිරීම
(1) ආංගික අභිනය වේ. (2) වාචික අභිනය වේ.
(3) ආහාර්ය අභිනය වේ. (4) සාත්වික අභිනය වේ.

24. "මල් වත්තේ අලංකාර ලෙස මල් පිපී තිබේ." මෙහි පිපීම පෙන්වීම සඳහා භාවිත කරන හස්ත
(1) අලපද්ම වේ. (2) මුකුල වේ. (3) කාංකුල වේ. (4) පද්මකෝෂ වේ.

25. පංචභානම්හි පසුතැවීම සහ ශෝකය උද්දීපනය වන භානය
(1) අශෝක මලයි. (2) අඹ මලයි. (3) පිච්ච මලයි. (4) නෙළුම් මලයි.

26. $|_7 |_7 \bigcirc \bigcirc$ යන ලක්ෂණය විදහා දැක්වෙන ජාති, තාලය යනු පිළිවෙළින්,
(1) මිශ්‍රජාති හා ද්‍රවතාලයයි. (2) චතුස්‍රජාති හා අඩතාලයයි.
(3) තිස්රජාති හා ද්‍රවතාලයයි. (4) මිශ්‍රජාති හා අඩතාලයයි.

27. වරුණ දෙවියන් පෙන්වීම සඳහා භාවිත කරන දේව හස්ත වන්නේ,
(1) දකුණු අත පතාක මුද්‍රාව සහ වම් අතේ ශිකර මුද්‍රාව ය.
(2) දකුණු අත ශිකර මුද්‍රාව සහ වම් අත පතාක මුද්‍රාව ය.
(3) දකුණු අත ශිකර මුද්‍රාව සහ වම් අත අර්ධපතාක මුද්‍රාව ය.
(4) දකුණු අත පතාක මුද්‍රාව සහ වම් අත මුෂ්ඨි මුද්‍රාව ය.

28. වෙස් තට්ටුව හිසේ පළඳා නර්තනය ඉදිරිපත් කරන ශ්‍රී ලංකාවේ ශාස්ත්‍රීය නර්තනය
(1) රුහුණු නර්තනය වේ. (2) සබරගමු නර්තනය වේ.
(3) උඩරට නර්තනය වේ. (4) පහතරට නර්තනය වේ.

29. සමාන පාද චලන භාවිත කර නිර්මාණය වී ඇති අඩව් වර්ග දෙක කුමක් ද?
(1) තත් තෙයි තාහා සහ තෙයියා තෙයි යී (2) කිටතක තරිකිටතොම් සහ තතිංගිනතොම්
(3) තාතෙයි තෙයිත සහ තත් තෙයි තාම් (4) තෙයිහත් තෙයිහී සහ තිති තෙයි

30. සලඟ දෙපාවල බැඳ සතියකට දිනක් මුළු දවස පුරාම ප්‍රායෝගික පුහුණුවීම්වල යෙදෙන කුතු
(1) කිලමෙයිකුතු වේ. (2) තිනකුතු වේ.
(3) අඩුකුපාතල් වේ. (4) සට්ටම්කොඩුත්තල් වේ.

31. "චින්න චින්න පාදම් වෛත්තු කණ්ණා නී වා ...." යන්නෙන් ආරම්භ වන ගීයෙහි විදහා දැක්වෙන භාව ප්‍රකාශය
(1) දාසි භාව වේ. (2) වාත්සල්‍ය භාව වේ.
(3) භක්ති භාව වේ. (4) මධුර භාව වේ.

32. 'කුකුළා' ගේ චලන පිළිබඳ සඳහන් වන වන්නම
(1) සැවුලා වන්නම ය. (2) නෛයඩි වන්නම ය.
(3) ඌරක වන්නම ය. (4) මයුර වන්නම ය.

33. තාලය ආරම්භ කිරීමෙන් පසු මැද ගීතය හෝ ජදිය හෝ ආරම්භ කිරීම
(1) සම එඩුප්පු (2) විශම එඩුප්පු (3) අනාගත එඩුප්පු (4) අතීත එඩුප්පු

34. බටනලාවේ, මුඛයට තබා වාදනය කරන ද්වාරය හඳුන්වන්නේ,
(1) තාරාන්දිරම් ලෙස ය. (2) මුහරන්දිරම් ලෙස ය.
(3) ඇඟිලිද්වාර ලෙස ය. (4) වසා ඇති කොටස ලෙස ය.

35. පහත දැක්වෙන්නේ කුතු සම්බන්ධ කරුණු කිහිපයකි.
A - ප්‍රේමය විදහා දැක්වෙන කතා
B - බර වැඩි වස්ත්‍ර
C - යුද්ධය විදහා දැක්වෙන කතා
D - ශ්ලෝකය ඇද ගායනා කිරීම
E - වෘත්තාකාරව කුතු ඉදිරිපත් කිරීම
ඉහත දෑ අතුරෙන් තෙන්මෝඩි කුතු සම්බන්ධ කරුණු පමණක් ඇතුළත් වරණය තෝරන්න.
(1) A, B, E (2) A, D, E (3) C, B, D (4) C, D, E

- අංක **36** සිට **40** දක්වා ප්‍රශ්නවල හිස්තැනට ගැළපෙන පිළිතුර තෝරන්න.

36. සිලපතිකාරම්හි ඉලංගෝවඩිගල් මිරුදන්ගම් ....................... ලෙසින් හඳුන්වයි.
(1) මත්තලය (2) පිඩිල් (3) තන්නුමෙයි (4) වේණු

37. පාත්‍ර පහි ප්‍රාණන්වලින් එකකි .......................
(1) තාලය (2) උද්යෝගය (3) ස්ථිර (4) වේගය

38. කලාශේත්‍රා නර්තන පාසලෙහි ....................... ශෛලිය උගන්වයි.
(1) වලුවූරාර් (2) පන්දනෙයි නල්ලූරාර්
(3) තන්ජාවූරාර් (4) කාංජිපුර

39. උඩුක්කෛ, තම්පට්ටම්, මුරසු සහ සේමක්කලම් යනු ....................... සංගීත භාණ්ඩ වේ.
(1) බටහිර (2) ශාස්ත්‍රීය (3) ග්‍රාමීය (4) හින්දුස්ථානී

40. භරත නැටුමෙහි ජදී කියන්නා ....................... වේ.
(1) අන්නාවිමාර් (2) නට්ටුවනාර් (3) විත්තුවාන් (4) වෛනිගර්

45 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Ord. Level) Examination, 2020

භරත නැටුම් I, II
பரதநாட்டியம் I, II
Bharatha Dancing I, II

## භරත නැටුම් II

* **පළමුවන** ප්‍රශ්නය හා අනෙකුත් ප්‍රශ්නවලින් **හතරක්** ද තෝරාගෙන ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

**1.** පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

(i) ජදීශ්වරම් කෝර්වෙයි අතර මැද අලංකරණය කිරීම සඳහා නර්තනය කරන අඩව්ව කුමක් ද?

(ii) චතුස්‍රජාදි ත්‍රිපුට තාලය හඳුන්වන වෙනත් නම් මොනවා ද?

(iii) නටරාජා දෙවියන් මුණිතාණ්ඩව නර්තනය කළ ස්ථානය කුමක් ද?

(iv) මැද පිහිටි නූල භාවිත කර වම් අතෙන් තද කර අල්ලන විට ශ්‍රැති වැඩිපුර වැයෙන වාද්‍ය භාණ්ඩය කුමක් ද?

(v) යක්ෂගාන නාට්ටිය නාඩගමේ නිර්මාණකරුවා කවුද?

(vi) නැදැකම් අභිනය කිරීම සඳහා භාවිත කරන හස්ත මුද්‍රාව කුමන නමකින් හඳුන්වනු ලැබේ ද?

(vii) කිසියම් ද්‍රව්‍යයක් අතේ තබාගෙන නර්තනය ඉදිරිපත් කිරීම හඳුන්වන්නේ කෙසේ ද?

(viii) උතුරු ඉන්දියාවට අයත් ශාස්ත්‍රීය නර්තනය කුමක් ද?

(ix) නටුවාංග තාලම්හි වම් සහ දකුණු පැතිවල ඇතුල් පැත්ත නියෝජනය කරන දෙවිවරුන් නම් කරන්න.

(x) වර්ණම් නර්තනාංගයේ ඇති කොටස් **දෙක** මොනවා ද?

**2.** (i) භරත නාට්‍ය ප්‍රසංග ක්‍රමයට අනුව ඉදිරිපත් කරන පළමු නිර්තිය නර්තනාංගය කුමක් ද?

(ii) ඉහත (i) හි සඳහන් කළ නර්තනාංගයේ ලක්ෂණ ලියන්න.

(iii) ඉහත (i) හි සඳහන් කළ නර්තනාංගයේ රාගය හා තාලය සඳහන් කර, එහි පළවෙනි කණ්ඩිහෙයිනෙයි සංගීත සලකුණු (symbols) සමග ලියා දක්වන්න.

**3.** (i) කේරල ප්‍රාන්තයට ආවේණික වූ ශාස්ත්‍රීය නර්තන **දෙකක්** සඳහන් කරන්න.

(ii) ඉහත (i) හි සඳහන් කළ ශාස්ත්‍රීය නර්තන අතුරෙන් සිරුංගාර සහ ලාස්සියට මූලිකත්වය දෙමින් නර්තනය විදහා දක්වන ශාස්ත්‍රීය නර්තනය ගැන පහත සඳහන් මාතෘකා යටතේ පැහැදිලි කරන්න.

- ආරම්භය
- නර්තනය සහ එහි සංගීත ව්‍යුහය
- භාවිත කරන සංගීත වාද්‍ය භාණ්ඩ
- වස්ත්‍ර සහ ආභරණ
- කලාකරුවන්ගේ දායකත්වය

**4.** පහත සඳහන් හස්තවලට අදාළ විනියෝග සඳහා ශ්ලෝකය එහි අර්ථය සමග ලියන්න.

(i) මුෂ්ටි හස්ත (ii) තාම්බ්‍රචූඩ හස්ත
(iii) අංජලි හස්ත (iv) ගට්වා හස්ත

**5.** පන්දනෛයි නල්ලූර් මීනාක්ෂි සුන්දරම්පිල්ලෙගේ ජීවිත කතාව සඳහන් කර, ඔහු කලාවට ලබා දුන් දායකත්වය විස්තර කරන්න.

**6.** පහත සඳහන් ඒවා පිළිබඳ කෙටි සටහන් ලියන්න.

(i) මුද්‍රා (ii) ශිෂ්‍ය ලක්ෂණ (iii) අලාරිප්පු

[පස්වැනි පිටුව බලන්න.

**7.** (i) වෘත්තිමය නර්තනවලින් එකක් වන 'තේ දළු නෙළීමේ නර්තනය' සම්බන්ධව පහත සඳහන් කරුණු ඇසුරෙන් පැහැදිලි කරන්න.

- හැඳින්වීම
- ගීත නිර්මාණය
- නර්තන නිර්මාණය
- වස්ත්‍රාභරණ
- භාවිත කරන සංගීත භාණ්ඩ

(ii) ඔබ රස විඳ ඇති 'තේ දළු නෙළීමේ' නර්තනය පිළිබඳ විස්තර පැහැදිලි කරන්න.

* * *

